## 2556 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2011 (2012)

### (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

S 4

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) සංසාර විමුක්තිය ලැබීම ආශ්‍රිතව බුදු දහමෙහි ඉගැන්වෙන 'ත්‍රිවිධ යාන' හඳුන්වා, ඒවා පිළිබඳ ව මහායානිකයන් දරන මතය විස්තර කරන්න. (ලකුණු 06 යි)

   (ii) මහායාන බුදු දහමෙහි බෝධිසත්ත්ව වන්දනාවට විශේෂ ස්ථානයක් හිමි වී ඇති ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iii) ධ්‍යානී බෝධිසත්ත්වවරුන් ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

3. (i) ධර්මාශෝක අධිරාජයා ධර්මප්‍රචාරය සඳහා යොදාගත් උපාය මාර්ග පිළිබඳ විශ්ලේෂණයක් කරන්න. (ලකුණු 06 යි)

   (ii) එම අධිරාජයා ධර්මප්‍රචාරය සඳහා තෝරාගත් රටවල් හයක් හා ඒවාට යැවූ ධර්මදූතයන්ගේ නම් දක්වන්න. (ලකුණු 06 යි)

   (iii) එම අධිරාජයාගේ අනුග්‍රාහකත්වයෙන් පැවැත්වූ ධර්ම සංගීතියේ ප්‍රතිඵල කවරේදැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

4. (i) භාරතයේ වලභී විශ්ව විද්‍යාලයේ ආරම්භය පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

   (ii) එම විශ්ව විද්‍යාලයේ ඉගැන්වූ විෂය මාලාව හඳුන්වන්න. (ලකුණු 06 යි)

   (iii) එම විශ්ව විද්‍යාලය ගැන විදේශීය සංචාරකයින්ගේ වාර්තාවල ඇතුළත් කරුණු ගැන සමාලෝචනයක් කරන්න. (ලකුණු 06 යි)

5. (i) ඓතිහාසික මූලාශ්‍ර අනුව ජෛනාගම ශ්‍රී ලංකාවේ පැතිර ගිය බවට දැක්විය හැකි සාධක කවරේදැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

   (ii) ප්‍රාග් බෞද්ධ යුගයේ දී ශ්‍රී ලංකාවේ පැතිර ගිය යක්ෂ ඇදහිලි ගැන විශ්ලේෂණයක් කරන්න. (ලකුණු 06 යි)

   (iii) මහින්දාගමනය නිසා ශ්‍රී ලංකාවට ලැබුණු උත්කෘෂ්ට දායාද කවරේදැයි පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

6. (i) වෘක්ෂ වන්දනාව ද, දෙවියන් හා ප්‍රේතයන් පිළිබඳ විශ්වාස ද පැතිර ගිය ශ්‍රී ලාංකික සමාජය බුදු දහම කෙරෙහි යොමු කරවීම සඳහා මිහිඳු හිමියන් උපයෝගී කොටගත් ක්‍රමෝපාය ගැන විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

   (ii) පංචසීල ප්‍රතිපත්තියට මුල් තැන දුන් දැහැමි සමාජයක් ගොඩ නැංවීම උදෙසා ඇතැම් පැරණි ශ්‍රී ලාංකේය රජදරුවන් අනුගමනය කළ ක්‍රියා මාර්ග කවරේදැයි පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iii) දුටුගැමුණු කුමාරයාගේ රාජ්‍ය පදප්‍රාප්තිය මෙරට ස්වෛරීභාවය ආරක්ෂා කිරීමට මෙන් ම ශාසනයේ චිරස්ථිතිය සඳහා ද හේතු වූ ආකාරය විභාග කරන්න. (ලකුණු 06 යි)

7. (i) "ශ්‍රී ලංකා රාජ්‍ය පාලනය බෞද්ධ රජදරුවන්ට ම අයත් විය යුතුය" යන සංකල්පය මෙරට මුල් බැස ගැනීමට හේතු වූ කරුණු නිදසුන් මගින් පිරික්සන්න. (ලකුණු 06 යි)

   (ii) "ශ්‍රී ලාංකේය රජදරුවන් බොහෝ විට බුද්ධ ශාසනයේ දියුණුවට හා ආරක්ෂාවට ක්‍රියා කළ අතර ස්වකීය ආරක්ෂාවට ද ශාසනය උපයෝගී කර ගත් බව පෙනේ." මෙබඳු නරපතියන්ගේ ක්‍රියාකාරිත්වය ඇසුරින් මේ අදහස ගැන සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

   (iii) සතර අගතියෙන් තොරව දශරාජ ධර්මයෙහි හැසිරෙමින් සිවුසඟරාවතින් යුතුව මහජනතාවට සංග්‍රහ කිරීමට ප්‍රයත්න දැරූ ශ්‍රී ලාංකේය රජුන් පිළිබඳ විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

8. (i) ශ්‍රී ලංකාවේ නිර්මිත බුදුපිළිමවලින් නිරූපිත ඉරියව් හඳුන්වා දෙමින්, එයින් එක් පිළිම වර්ගයක් තෝරා ගෙන ඒවා පිහිටි ස්ථාන ගැන තොරතුරු සපයන්න. (ලකුණු 06 යි)

   (ii) ශ්‍රී ලංකාවේ බුදුපිළිමවල දක්නට ලැබෙන මුද්‍රා පිළිබඳ විමර්ශනයක් කරන්න. (ලකුණු 06 යි)

   (iii) තිවංක බුදුපිළිම කවරේ දැයි හඳුන්වා, ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන මෙබඳු පිළිම ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

***